අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | |
|---|---|---|
| බුද්ධ ධර්මය I<br>பௌத்தம் I<br>Buddhism I | 41 S I | පැය දෙකයි<br>இரண்டு மணித்தியாலம்<br>*Two hours* |

**උපදෙස්:**
* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ **ඔබේ විභාග අංකය** ලියන්න.
* උත්තර පත්‍රයේ, පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
* **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ම ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (X) **යොදා දක්වන්න.**
* එක් ප්‍රශ්නයකට ලකුණු **02** බැගින් මුළු ලකුණු **100** යි.

**1.** සමකාලීන ශ්‍රමණ-බ්‍රාහ්මණ ආචාර්යවරුන් අතර උත්තරීතර චරිත ලක්ෂණ පැවැති නිසා ද ධර්මවිනයාගත ඉගැන්වීම් අනුව ද බුදුරජාණන් වහන්සේ සුවිශේෂී වූහ. එම සුවිශේෂත්වය ප්‍රකට වන්නේ,
(1) දන්දීම හා එහි ආනිශංස ඉගැන්වූ බැවිනි.
(2) හේතු ප්‍රත්‍ය ඇති කල ඇති වන ධර්ම, නැති කල නැති වේ යැ'යි දේශනා කළ බැවිනි.
(3) ශීල ශික්ෂාව සවිස්තර ව අනුදැන වදාළ බැවිනි.
(4) ප්‍රථමවරට භාවනාව ප්‍රගුණ කිරීමට වදාළ බැවිනි.
(5) මෙලොව උපන් සත්ත්වයාට පරලොවක් ඇතැයි පෙන්වා දුන් බැවිනි.

**2.** උක්කට්ඨා, සේතව්‍යා දෙනුවර අතර දිගුමඟට පිළිපන් බුදුරදුන් හමුවට පැමිණි ද්‍රෝණ නම් බ්‍රාහ්මණයා ඇසූ ප්‍රශ්නවලට උන් වහන්සේ විසින් දෙන ලද පිළිතුරු මාලාවක් පෙළ දහමෙහි හමු වේ. ඉන් **එකක්** නම්,
(1) මම ආශ්චර්යවත් උතුමෙක් වෙමි.
(2) මට ආචාර්යවරයකු නැත.
(3) මා හැඳින්විය යුත්තේ අනන්තජින යනුවෙනි.
(4) මම මනුෂ්‍යයෙක් ද නොවෙමි.
(5) මම අසමසම වෙමි.

**3.** බුද්ධත්වයට පත් උතුමෙකුගේ සිරුරෙහි දැකගත හැකි විශේෂ ලක්ෂණ දෙතිසක් ඇතැ'යි වෛදික බ්‍රාහ්මණයෝ පවා පිළිගත්හ. ගෞතම බුදුරදුන්ගේ සිරුරෙහි ද පැවැතියේ යැ'යි සඳහන් වන එම ලක්ෂණ අතර එකක් **නො වන්නේ,**
(1) ජාලහත්ථපාද යන්න ය.
(2) ආරෝහපරිණාහ යන්න ය.
(3) සුප්පතිට්ඨිතපාද යන්න ය.
(4) මුදුතලුනහත්ථපාද යන්න ය.
(5) ආයතපණ්හී යන්න ය.

**4.** බුදුරජාණන් වහන්සේගේ ඉගැන්වීම් ක්‍රම පිළිබඳ ව වාක්‍ය රචනයක් ලියන්නැ'යි පන්තිභාර ගුරුතුමා විසින් සිසුන්ට පවරන ලදී. ඒ අනුව එක් සිසුවකු ලියා ඉදිරිපත් කළ රචනාවක තිබුණු, බුදුරදුන්ගේ ඉගැන්වීම් ක්‍රමයක් ලෙස සැලකිය **නොහැකි** කරුණක් වන්නේ,
(1) ප්‍රශ්නෝත්තර ක්‍රමයයි.
(2) පැවරුම් ලබා දීමයි.
(3) සාකච්ඡා ක්‍රමයයි.
(4) උපකරණ භාවිතයයි.
(5) අවරෝහණ ක්‍රමයයි.

**5.** "මහණෙනි, අනුන්ගේ සිත්හසර දැක්මට හැකියාවක් නැති භික්ෂුව විසින් තථාගතයන් වහන්සේ පිළිබඳ කරුණු දෙකක් විමර්ශනය කළ යුතු ය. එනම් උන් වහන්සේගේ කාය සමාචාරය සහ වාක් සමාචාරයයි." මෙසේ සඳහන් වන බුද්ධ දේශනාව වන්නේ,
(1) කාලාම සූත්‍රයයි.
(2) උපාලි සූත්‍රයයි.
(3) වීමංසක සූත්‍රයයි.
(4) මහා සීහනාද සූත්‍රයයි.
(5) අරිය පරියෙසන සූත්‍රයයි.

[දෙවැනි පිටුව බලන්න.

**6.** පසුගිය ඇසළ පුන් පොහෝ දින විහාරස්ථානයට රැස් වූ අප දහම් පාසලේ සිසු-සිසුවියෝ ධර්මරත්නයෙහි ගුණ පිළිබඳ සාකච්ඡාවක් පැවැත්වූහ. එහි දී ප්‍රකාශ වූ කරුණු අතුරෙන් සවැදෑරුම් දහම් ගුණ පාඨයට ඇතුළත් **නො වන්නේ,**
(1) දහම තම තමන් විසින් වෙන් වෙන් ව දත යුතු ය යන්නයි.
(2) තම සිතට ම පමුණුවා අත්දැකිය යුතු ය යන්නයි.
(3) එමගින් කල් නොයවා ම ප්‍රතිඵල ලද හැකි ය යන්නයි.
(4) මිථ්‍යාදෘෂ්ටි බිඳ හෙළීමට සමත් වේ යන්නයි.
(5) එව බලවයි දැක්විය හැකි ය යන්නයි.

**7.** ලෝකයෙහි එදා මෙදාතුර උපන් සියලු සමයාන්තර නිත්‍ය, ස්ථිර, සදාකාලික, භවගාමී ආත්මයක් පිළිගනියි. ඒ මත පිහිටා කරුණු ඉදිරිපත් කරයි. බුදුදහම එම පිළිවෙත අනුගමනය **නොකරන** බව ප්‍රකාශ වන්නේ,
(1) "රූපං අත්තතො සමනුපස්සති" යන්නෙනි.
(2) "අත්ත දීපා භික්ඛවෙ විහරථ" යන්නෙනි.
(3) "නෙතං මම, නෙසො හමස්මි, නෙසො මෙ අත්තා" යන්නෙනි.
(4) "අත්තානො ලොකො අනභිස්සරො" යන්නෙනි.
(5) "අත්තනාව ජානෙයාාථ" යන්නෙනි.

**8.** "ගෘහපතිය, විමසුම්ශීලීව කටයුතු කරන්න. එසේ ක්‍රියා කිරීම ඔබ වැනි ප්‍රසිද්ධ මිනිසුන්ට වඩාත් සුදුසු ය." බුදුරජාණන් වහන්සේ විසින් මෙම අනුශාසනාව කරන ලද්දේ,
(1) චිත්ත ගෘහපතියාට ය.
(2) ධනංජය සිටුතුමාට ය.
(3) උපාලි ගෘහපතියාට ය.
(4) දීඝජානුකෝලිය පුත්‍රයාට ය.
(5) උදය බ්‍රාහ්මණයාට ය.

**9.** බුදුදහම අන්තවාද බැහැර කරයි. කවර අන්තවාදයක හෝ එල්බ ගැනීමෙන් නිදහස් ව සිතීමට හා විමසීමට අසමත් වන මිනිසුන් මතවාදී ගැටුම් ඇති කරගන්නා සැටි පෙන්වා දෙයි. එසේ බැහැර කළ ඉගැන්වීමක් **නො වන්නේ,**
(1) ධර්ම සංකල්පයයි.
(2) අත්තන්තප යෝගයයි.
(3) අපරාන්ත කල්පනයයි.
(4) පරංකත වාදයයි.
(5) අමරාවික්ඛේප වාදයයි.

**10.** සර්ව බලධාරී නිර්මාතෘ දෙවියකු, බ්‍රහ්මයකු මුල්කොටගත් ධර්ම මාර්ගයක් නො වන බුදුසමය අභිමතාර්ථ සාධනය පිණිස මානව ශක්‍යතාව යොදා ගැන්මට දිරිගන්වයි. එබඳු ඉගැන්වීමක් වන්නේ,
(1) "පටිසොතගාමිං නිපුණං" යන්න ය.
(2) "අසුභානුපස්සිං විහරන්තං" යන්න ය.
(3) "උපනීයති ලොකො අද්ධුවො" යන්න ය.
(4) "මා නිවත්ත අභික්කම" යන්න ය.
(5) "සබ්බෙ සත්තා අවසා අබලා අවීරියා" යන්න ය.

**11.** බෞද්ධ පැවිද්දේ පසුබිම යන මැයෙන් දීර්ඝ දේශනයක් කළ එක්තරා දේශකයකු අසන්නන්ට ඉදිරිපත් කළ කරුණු අතුරෙන් එකක් නිවැරදි **නොවේ ය.** එය නම්,
(1) ප්‍රාග් බෞද්ධ යුගයේ භාරතයේ ශ්‍රමණ පැවිද්දෝ විසූ හ.
(2) බුද්ධ කාලය වන විට ප්‍රධාන ආගමික සම්ප්‍රදාය දෙකක් විය.
(3) ශ්‍රමණ පැවිද්දෝ විමුක්තිය පිළිබඳ ව සමාන අදහස් දැරූහ.
(4) වේද-වේදාන්ත යුග ඔස්සේ භාරතීය පැවිද්ද විකාශයට පත් වී තිබේ.
(5) ශ්‍රමණයන් හා බ්‍රාහ්මණයන් අතර ඇතැම් සමානතා පැවැතුණේ ය.

**12.** බුද්ධ ධර්ම විෂය නිර්දේශයේ ඇතුළත් තෙවැනි නිපුණතාවට අදාළ පාඩම නිම කළ ගුරුතුමා, බෞද්ධ පැවිද්දේ ස්වභාවය කියැවෙන වාක්‍ය පහක් ලියන්නැයි සිසුන්ට පැවරුමක් ලබා දුන්නේ ය. එහි දී එක් ශිෂ්‍යයකු ලියා දුන් වාක්‍ය පහෙන් නිවැරදි වාක්‍යය වූයේ,
(1) "පැවිද්දකුගේ මූලික පරමාර්ථය නම් සමාජ සේවය" යන්නයි.
(2) "පැවිද්ද සැපතක් නො වේ" යන්නයි.
(3) "භික්ෂාවෙන් යැපෙන්නන් සිටියේ බුදුසසුනේ පමණි" යන්නයි.
(4) "ගිහියන්ට මෝක්ෂ මාර්ගය කියා දීම පැවිද්දාගේ වගකීම" යන්නයි.
(5) "සිඳුණු-බිඳුණු වස්ත්‍ර දරන්නා භික්ෂුවකි" යන්නයි.



**13.** සඟරුවන වන්දනා කිරීමට අප විසින් භාවිත කෙරෙන "උජුපටිපන්නො භගවතො සාවක සංඝො" යනාදී පාඨයෙහි 'අංජලි කරණීය' යන්නෙන් අදහස් වන්නේ,
(1) සඟරුවන මනා පිළිවෙත් පුරන බව ය.
(2) ගෞරව ලැබීමට සුදුසු බව ය.
(3) ඍජු ප්‍රතිපත්තියෙහි පිහිටා සිටින බව ය.
(4) දුර සිට ගෙනවිත් පිදීමට සුදුසු උතුමන් බව ය.
(5) ලෝකයාට උතුම් පින් කෙතක් වන බව ය.

14. ආධුනික පැවිද්දා, පුහුණුව ලබන්නා, ශ්‍රමණයාගේ පුත්‍රයා යනාදී වශයෙන් හැඳින්වෙන නවක භික්ෂූන් වහන්සේගේ ශික්ෂණයට අදාළ වන්නේ,
(1) ප්‍රාතිමෝක්ෂ සංවර ශීලයයි.
(2) ආජීව අෂ්ටමක ශීලයයි.
(3) ඉන්ද්‍රිය සංවර ශීලයයි.
(4) ආපානකෝටික ශීලයයි.
(5) සාමණේර දස ශීලයයි.

15. උපසම්පදාලාභී භික්ෂූන් වහන්සේලා විසින් විනයානුකූල ව සම්මත කරගත් සීමාවක දී අවශ්‍ය ගණපූරණයෙන් විනය කර්ම කරනු ලැබේ. උන් වහන්සේලාගේ ආයති සංවරය පවත්වාගෙන යාමටත් සමඟිය රැක ගැනීමටත් හේතු වන එබඳු විනය කර්මයක දී සිදු **නො වන්නේ,**
(1) උපසම්පදා කිරීම ය.
(2) කඨිනයක් පැවරීම ය.
(3) පොහොය කිරීම ය.
(4) දානයක් පිළිගැනීම ය.
(5) විනය කඩකරන භික්ෂූන් පිළිබඳ පියවර ගැනීම ය.

16. ධර්ම-විනයෙහි ආරක්ෂාව උදෙසා බුදුරජාණන් වහන්සේ විසින් තමන් වහන්සේ ධරමාන සමයේ දී ම ගිහි-පැවිදි ශ්‍රාවක-ශ්‍රාවිකාවන් අගය කරමින් විවිධ තනතුරු ප්‍රදානය කරන ලදහ. එහි දී මන්තානිපුත්ත මාහිමියන්ට ප්‍රදානය කරන ලද්දේ,
(1) බහුශ්‍රැතයන් අතර අග තනතුර ය.
(2) ධර්ම කථිකයන් අතර අග තනතුර ය.
(3) කාර්යක්ෂම භික්ෂූන් අතර අග තනතුර ය.
(4) නුවණැත්තන් අතර අග තනතුර ය.
(5) ධාරණ ශක්තිය ඇත්තවුන් අතර අග තනතුර ය.

17. ස්වකීය ශ්‍රාවක-ශ්‍රාවිකාවන් ධර්ම විනය මැනවින් උද්ග්‍රහණය හා ධාරණය කරගනිමින් සෙස්සන්ට දේශනා කිරීමට වඩාත් උනන්දු කරවීම පිණිස බුදුරජාණන් වහන්සේ විසින් ගත් එක් පියවරක් වන්නේ,
(1) නායකවරුන් පත් කිරීම ය.
(2) ධර්මය ඉගැන්වීම සඳහා ආයතන පිහිටුවීම ය.
(3) මව් බසින් ධර්මය හැදෑරීමට අනුමැතිය ලබා දීම ය.
(4) ඒ ඒ දිශා, ජනපදවල රැස් වී ධර්ම සාකච්ඡා කිරීමට පෙලඹවීම ය.
(5) මුඛ පරපුරෙන් ධර්මය පවත්වාගෙන යාමට නියම කිරීම ය.

18. ධර්ම-විනයධර ශාසනභාරධාරී මහතෙරුන් වහන්සේලාගේ සහභාගිත්වයෙන් පවත්වන ලද ප්‍රථම ධර්ම සංගායනාවේ දී භික්ෂූන් වහන්සේලාගේ යහපැවැත්මත් ධර්ම-විනයෙහි චිරස්ථිතියත් උදෙසා ගන්නා ලද පියවරක් ලෙස සඳහන් **නො වන්නේ,**
(1) ක්ෂුද්‍රා-අනුක්ෂුද්‍රා ශික්ෂා විනිශ්චය පසුවට තැබීම ය.
(2) ආනන්ද මාහිමියන්ට කරුණු පැහැදිලි කිරීම ය.
(3) ධර්මයට හා විනයට අයත් කොටස් වෙන් කොට හඳුනාගැනීම ය.
(4) සුභද්‍ර භික්ෂුව කැඳවා අවවාද කිරීම ය.
(5) භාණක පරම්පරා පත් කිරීම ය.

19. ද්විතීය ධර්ම සංගායනාවේ ප්‍රතිඵල වශයෙන් අටළොස් නිකායන් ඇති වූ බව නිකාය සංග්‍රහය ආදී මූලාශ්‍රය තුළින් පැහැදිලි වේ. ථෙරවාද, මහාසංඝික යැයි බෙදී ගිය ප්‍රධාන භික්ෂු සම්ප්‍රදාය දෙක අනුක්‍රමයෙන් තවත් නිකායවලට බෙදී ගියේ ය. මෙසේ බෙදී ගිය නිකායක් නම්,
(1) සම්මිතීය ය.
(2) වාජිරිවාදය ය.
(3) අභයගිරික ය.
(4) ධර්මරුචි ය.
(5) පංශුකුලික ය.

20. තෙවැනි ධර්ම සංගායනා අවස්ථාවේ දී මොග්ගලීපුත්තතිස්ස මාහිමියන් විසින් කථාවත්ථුප්පකරණය නමින් ග්‍රන්ථයක් සම්පාදනය කළ බව ඓතිහාසික වාර්තාවල දක්වා තිබේ. එම කෘතිය ගැන කියවෙන මෙම ප්‍රකාශවලින් එකක් වැරදි ය. එම **වැරදි** ප්‍රකාශය වන්නේ,
(1) "එය ථෙරවාද අභිධර්ම පිටකයට එක් කරන ලද්දකි" යන්නයි.
(2) "එය කථාවස්තු සංග්‍රහයකි" යන්නයි.
(3) "එමගින් ථෙරවාද නො වන නිකායික මත විවේචනය කර ඇත" යන්නයි.
(4) "එය ථෙරවාදී ඉගැන්වීම් රැක ගැනීමට ගත් පියවරකි" යන්නයි.
(5) "එහි සකවාද සහ පරවාද පන්සියයක් බැගින් ඇතුළත් ය" යන්නයි.

21. මූලික පිරිවෙන් අවසාන විභාගයේ ත්‍රිපිටකධර්ම අධ්‍යයන විෂයය නිර්දේශයට අයත් පළමුවැනි පාඩම ඉගැන්වීමට, එම පන්තියට වැඩම කළ පණ්ඩිත හාමුදුරුවෝ සූත්‍ර පිටකය හඳුන්වා දෙමින් පුවරුවෙහි වගන්ති පහක් ලියා පෙන්වූහ. ඉන් **එකක්** නම්,
(1) "මනාව දේශනා කොට මනාව සංග්‍රහ කර ඇති බැවින් සූත්‍ර නම් වේ" යන්නයි.
(2) "මුඛ පරම්පරාවෙන් පවත්වාගෙන යා යුතු බැවින් සූත්‍ර නම් වේ" යන්නයි.
(3) "සූත්‍ර යනු වඩාත් ම පැරණි බුද්ධ වචනය" යන්නයි.
(4) "අතිරේක අර්ථකථන නොමැති බැවින් සූත්‍ර යැ'යි කියනු ලැබේ" යන්නයි.
(5) "පිරිසිදු වූ බුද්ධ වචනය සූත්‍ර නමින් හඳුන්වනු ලැබේ" යන්නයි.

[හතරවැනි පිටුව බලන්න.

3780

**22.** සූත්‍ර පිටකයෙන් ආදි බුදුදහම බොහෝ දුරට හඳුනාගත හැකි නමුදු එහි යම් යම් සංස්කරණ පසුකාලීන ව සිදු වී ඇතැ'යි සැලකේ. ඒ පිළිබඳ ව ලියැවුණු පහත දැක්වෙන ප්‍රකාශවලින් එකක් පමණක් නිවැරදි ය. එය නම්,
(1) සූත්‍ර දේශනාවල අන්‍යාගමික ඉගැන්වීම් ඇතුළත් නො වේ.
(2) සූත්‍ර පිටකයේ බුද්ධ භාෂිත මෙන් ම ශ්‍රාවක භාෂිත ද දක්නට ලැබේ.
(3) ඛුද්දක නිකායට අයත් ග්‍රන්ථ සියල්ල ම පසුකාලීන ය.
(4) සූත්‍ර හා විනය අතර කිසිදු සම්බන්ධයක් නැත.
(5) චිත්ත වීථි ගැන සඳහන් වන්නේ සූත්‍ර දේශනාවල ය.

**23.** බුදුරජාණන් වහන්සේ විසින් පාමොක් උදෙසා විනය නීති පැනවීමට ක්‍රියා කළේ කරුණු සතරක් නිසා යැ'යි මූලාශ්‍රයවල සඳහන් වේ. එම කරුණු හැඳින්වෙනුයේ ආසවට්ඨානීය ධර්ම ලෙස ය. එම ධර්මවලට ඇතුළත් **නො වන්නේ,**
(1) සසුන ආරම්භ වී දිගු කලක් ගත වීමයි. (2) විෂමාචාර බහුල වීමයි.
(3) උගතුන් බහුල වීමයි. (4) සාමාජිකයන් වැඩි වීමයි.
(5) ලැබීම් වැඩි වීමයි.

**24.** උපසපන් භික්ෂූන් වහන්සේලාට අදාළ ව පසුකාලීන ව විනයනීති පනවන ලද්දේ අරමුණු දහයක් පෙරදැරි කොටගෙන යැ'යි මූලාශ්‍රය සඳහන් කරයි. භික්ෂු සමාජයේ යහපැවැත්ම මුල් කොටගත් එකී අරමුණු අතරට ඇතුළත් **නො වන්නේ,**
(1) පැහැදුණවුන්ගේ වැඩි පැහැදීමයි. (2) සසුන පන්දහසක් කල් පවත්වා ගැනීමයි.
(3) භික්ෂු සංවරයට අනුබල දීමයි. (4) සංඝයාගේ පහසු පැවැත්මයි.
(5) නොදැමුණවුන් දමනය කිරීමයි.

**25.** තුන් පිටකයෙහි ඇතුළත් විශේෂවූත් ගැඹුරුවූත් ධර්මය අභිධර්මයයි. එහි ප්‍රභවය, ස්වභාවය හා අරමුණු පිළිබඳ උගතුන් අතර විවිධ පිළිගැනීම් දක්නට ලැබේ. ඒ අතුරෙන් **එකක්** වන්නේ,
(1) අභිධර්මය, සූත්‍රවලට වඩා පැරණි ය.
(2) අභිධර්මය ආණා දේශනා නම් වේ.
(3) අභිධර්මය ශ්‍රාවක භාෂිතයකි.
(4) සූත්‍ර ධර්ම අභිධර්මයට මූලාශ්‍රය වී ඇත.
(5) අභිධර්මය පරියාය දේශනාවකි.

**26.** බුදුරජාණන් වහන්සේ විසින් වදාරන ලද සූත්‍රාන්ත ධර්ම හදාරන්නකුට බුද්ධකාලීන සාමාජික, සංස්කෘතික හා දාර්ශනික පරිසරය හා බැඳුණු බ්‍රාහ්මණ ඉගැන්වීම් හෙළිදරව් කරගත හැකි සූත්‍රයක් වන්නේ,
(1) මහාසාරෝපම සූත්‍රයයි. (2) භය භේරව සූත්‍රයයි.
(3) කණ්ණකත්ථල සූත්‍රයයි. (4) කසීභාරද්වාජ සූත්‍රයයි.
(5) කීටාගිරි සූත්‍රයයි.

**27.** බුදුරජාණන් වහන්සේට සමකාලීනව සුප්‍රසිද්ධ ශාස්තෘවරුන් සදෙනකු භාරතයේ සිටි බවත් ඔවුන්ගේ ඉගැන්වීම් විවිධාකාර වූ බවත් සාමඤ්ඤඵල සූත්‍රයෙන් පෙනේ. එබඳු ඉගැන්වීමක් **නො වන්නේ,**
(1) "සබ්බං පුබ්බෙ කත හෙතු" යන්න ය. (2) "තථා පි මෙ නො අඤ්ඤථාපි මෙ නො" යන්න ය.
(3) "සබ්බං ඉස්සරනිම්මාණ හෙතු" යන්න ය. (4) "නත්ථි පුඤ්ඤං නත්ථි පුඤ්ඤස්ස ආගමො" යන්න ය.
(5) "ඉමෙ සත්තකායා අකටා අකටවිධා" යන්න ය.

**28.** සියල්ල හේතු ප්‍රත්‍යාකාරයෙන් සිදුවන්නේ යැ'යි බුදුරජාණන් වහන්සේ උගන්වති. ඒ අනුව සමාජ විකාශයට තුඩු දුන් හේතු ප්‍රත්‍ය පෙන්වා දෙන උන්වහන්සේ ප්‍රකාශ කොට **නැත්තේ,**
(1) සාංසාරික හුරුපුරුදුකම් ය. (2) පාරිසරික හේතු ය.
(3) ආධ්‍යාත්මික පිරිහීම් ය. (4) ආර්ථික කරුණු ය.
(5) දේශපාලන සාධක ය.

**29.** බුදුරජාණන් වහන්සේ වදාළ පරිදි සත්ත්වයා පුද්ගලයා යනු ස්කන්ධ පහක සංයුතියයි. උන්වහන්සේට අනුව එම ස්කන්ධ පහ පිළිබඳ ව අප විසින් **නොකළ** යුතු වන්නේ,
(1) අනාත්ම වශයෙන් සැලකීම ය. (2) කළකිරීම ඇති කර ගැනීම ය.
(3) මම ය, මාගේ යැ'යි ගැනීම ය. (4) උපාදාන වශයෙන් නොගැනීම ය.
(5) පටිච්චසමුප්පන්න බව තේරුම් ගැනීම ය.

**30.** සමස්ත ජීව ලෝකය කෙරෙහි මිත්‍රශීලී ආකල්පයක් ඇති බව හා සියලු ජීවීන්ගේ හිත සුව කැමති වීම මෛත්‍රියයි. එසේ මෙත් සිත වැඩීමට උගන්වන සූත්‍ර දේශනාවක් නම්,
(1) මෙත්තානිසංස සූත්‍රයයි. (2) මෙත්ත සූත්‍රයයි.
(3) සිගාල සූත්‍රයයි. (4) මහා මංගල සූත්‍රයයි.
(5) රතන සූත්‍රයයි.

[පස්වැනි පිටුව බලන්න.

**31.** බුදුදහමෙහි ඉගැන්වෙන දෙවැනි ආර්ය සත්‍යය සසර දුකට හේතු පෙන්වා දෙයි. පහත දැක්වෙන ධර්මපාඨ අතුරෙන් එකී දුක්ඛ සමුදයාර්ය සත්‍යය, **නොපැවසෙන්නේ,**

(1) "දුක්ඛෙ ලොකො පතිට්ඨිතො" යන්නෙනි. (2) "තණ්හාය ජායතී සොකො" යන්නෙනි.
(3) "ඌනො ලොකො අතිත්තො" යන්නෙනි. (4) "ආලය රාමා අයං පජා" යන්නෙනි.
(5) "පෙමතො ජායතී සොකො" යන්නෙනි.

**32.** අප ධර්ම විද්‍යාලයේ පසු ගිය පුන් පොහෝ දින සංවිධානය කරන ලද අගමික වැඩසටහනට ඇතුළත් ධර්ම සාකච්ඡාවෙහි මාතෘකාව වූයේ නිර්වාණයයි. එහි දී සිසුන්ගෙන් ඉදිරිපත් වූයේ **එක්** නිවැරදි අදහසක් පමණකි. එම නිවැරදි අදහස නම්,

(1) 'නිවන මෙලොව දී දැකගත නොහැකි ය' යන්නයි.
(2) 'පින් දහම් කිරීමෙන් පමණක් නිවන් දැකිය හැකි ය' යන්නයි.
(3) 'භව නිරෝධය නිවන ය' යන්නයි
(4) 'නිවන් දුටු උතුමෝ කුසල් මෙන් ම අකුසල් ද නොකරති' යන්නයි.
(5) 'සිල් රැකීමෙන් නිවන් අවබෝධ වේ' යන්නයි.

**33.** විවිධ නම්වලින් හඳුන්වනු ලබන නිවන්මඟට අයත් 'සම්මා සතිය' ඇතුළත් කොට ඇත්තේ සමාධි ශික්ෂාවට ය. එයින් අදහස් වන්නේ,

(1) ත්‍රිවිධ සංකල්පනා ය. (2) චතුර්විධ ධ්‍යානයෝ ය.
(3) සතර අනුපස්සනා ය. (4) සතර සම්පදා ය.
(5) සතර සම්‍යක් ප්‍රදානයෝ ය.

**34.** පටිච්චසමුප්පාද ධර්මයෙහි මූලික අරමුණ නම් දුකත්, දුකින් මිදීමත් ඉගැන්වීමයි. එහි අතිරේක අරමුණු රාශියක් ද සූත්‍ර දේශනාවල සඳහන් වේ. එබඳු අරමුණක් **නො වන්නේ,**

(1) මිනිස් සමාජයේ පරිණාමය පැහැදිලි කිරීම ය.
(2) මිනිසුන් අතර දුසිරිත් වර්ධනය වන ආකාරය පෙන්වා දීම ය.
(3) සමාජය තුළ ගැටුම් ඇති වන සැටි හෙළිදරවු කිරීම ය.
(4) ඉන්ද්‍රිය ඥානය සසර දුකට මුල් වන අයුරු ඉගැන්වීම ය.
(5) දුක්ඛ නිරෝධාර්ය සත්‍යය පැහැදිලි කිරීම ය.

**35.** අචේල කස්සප, දුක පිළිබඳ අන්තවාද සතරක් නියෝජනය කරන ප්‍රශ්න ඉදිරිපත් කළ විට, බුදුරජාණන් වහන්සේ ඒවා පසෙක තබා පටිච්චසමුප්පාදය දේශනා කළ බව පෙළ දහමේ සඳහන් වේ. එකී අන්තවාද සතරින් **එකක්** වන්නේ,

(1) ඒකත්තවාදයයි. (2) අධිච්චසමුප්පන්නවාදයයි.
(3) ලෝකායතවාදයයි. (4) අනියතවාදයයි.
(5) ආත්මවාදයයි.

**36.** කාමසුඛල්ලිකානුයෝගය නිර්වචනය කරන වාක්‍ය පහක් ලියන්නැයි ගුරුතුමිය සිසුන්ට කී විට ශිෂ්‍යයකු විසින් ලියන ලද වාක්‍ය අතුරෙන් එකක ඇතුළත් වී තිබුණේ අත්තකිලමථානුයෝගය පිළිබඳවයි. එම වාක්‍යය නම්,

(1) කාමසුඛල්ලිකානුයෝගය අන්තවාදී පිළිවෙතකි.
(2) කාමසුඛල්ලිකානුයෝගය දුක් සහිත ය, අනාර්ය ය, අවැඩදායක ය.
(3) උච්ඡේදවාදය කාමසුඛල්ලිකානුයෝගය හා බැඳේ.
(4) කාමසුඛල්ලිකානුයෝගයෙන් අදහස් වන්නේ අධික ලෙස පසිඳුරන් පිනවීම ය.
(5) පස්කම් සුවයෙහි ම ගිජුවීම කාමසුඛල්ලිකානුයෝගයෙන් අපේක්ෂිත ය.

**37.** ලෝකයේ දක්නට ලැබෙන අතිශයින් ම මනෝවිද්‍යාත්මක ධර්ම මාර්ගය ලෙස ප්‍රකට බුදුදහමෙහි ඇතුළත් මිනිස් සිතෙහි ප්‍රමුඛත්වය අවධාරණය කරන ධර්මපාඨයක් **නො වන්නේ,**

(1) "චිත්තෙන නීයතී ලොකො" යන්නයි.
(2) "ඵන්දනං චපලං චිත්තං" යන්නයි.
(3) "මනොපුබ්බංගමා ධම්මා" යන්නයි.
(4) "චෙතනාහං භික්ඛවෙ කම්මං" යන්නයි.
(5) "චිත්තං භික්ඛවෙ භාවිතං මහතො අත්ථාය සංවත්තති" යන්නයි.

**38.** සිත එකඟ කරන සමථ භාවනාව පඤ්ච අභිඤ්ඤා උපදවයි. එම ඥාණාධිගම පිළිබඳ ව ලියැවුණු පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් එකක් **වැරදී** ය. එය නම්,

(1) ලෞකික නො වේ. (2) සාමඤ්ඤඵල සූත්‍රය එබඳු අභිඤ්ඤා විස්තර කරයි.
(3) බිඳවැටෙනසුලු ය. (4) බුදුදහමෙන් බැහැරව ද ඉගැන්වෙයි.
(5) අසිරිමත් වූ විවිධ හැකියාවන් අර්ථවත් වේ.

**39.** මජ්ඣිම නිකායේ කුක්කුරවතිය සූත්‍රයේ බුද්ධකාලීන විවිධ ව්‍රත සමාදාන ගැන සඳහන් වෙයි. එම සූත්‍රයෙන් උගත හැකි වැදගත් ම කරුණ නම්,

(1) දස අකුසල් සසර දුකට මුල් වන බව ය. (2) පින්කම් කිරීම නිවනට උපකාරී නො වන බව ය.
(3) සියල්ලට ම සිත ප්‍රධාන වන බව ය. (4) අකුසලයෙන් වැළකීම ධම්මචරියා නම් වන බව ය.
(5) සුදු-කළු කර්ම අනුරූප විපාක ඇති බව ය.

[හයවැනි පිටුව බලන්න.

40. බුදුදහම අනුව පුද්ගලයාට විමුක්තිය ලබා ගත හැක්කේ ඇදහිලි, පුදසිරිත්, ව්‍රත සමාදාන ආදියෙන් නොව මානව ශක්‍යතාව උපයෝගී කොට ගෙන ය. එසේ විමුක්තිය ලබා ගැනීමට මඟ පෙන්වන බෞද්ධ ඉගැන්වීමක් නම්,
(1) සතර සම්‍යක්ප්‍රධානයයි. (2) ත්‍රිවිද්‍යාවයි.
(3) අනාත්ම ධර්මයයි. (4) සතර ඍද්ධිපාදයයි.
(5) සූවිසි ප්‍රත්‍ය විභාගයයි.

41. පුන් පොහෝ දිනක අටසිල් සමාදන් වූ උපාසක-උපාසිකාවන් අතර ශ්‍රද්ධාව යනු කුමක් දැ'යි ඇති වූ සාකච්ඡාවේ දී ඉදිරිපත් කරන ලද විවිධ නිර්වචන අතුරෙන් නිවැරදි වූයේ එකක් පමණි. එය නම්,
(1) ශ්‍රද්ධාව යනු පවට ඇති බියයි. (2) ශ්‍රද්ධාවෙන් කියැවෙන්නේ ආගමික භක්තියයි.
(3) පිරිසිදු සිතින් යමක් කිරීම ශ්‍රද්ධාවයි. (4) වන්දනාමාන කිරීම ශ්‍රද්ධාවයි.
(5) ශ්‍රද්ධාව සෝභන චෛතසිකයකි.

42. වචනය මුල් කොට ගත් අකුසල්වලින් වැළකීම "සම්මා වාචා" නම් වේ. එම වාචසික සීලය උගන්වන්නේ,
(1) ගිහි දස සීලයෙනි. (2) උපසම්පදා සීලයෙනි.
(3) ආජීව අෂ්ටමක සීලයෙනි. (4) පඤ්ච සීලයෙනි.
(5) උපෝසථ අෂ්ටාංග සීලයෙනි.

43. හොඳ-නරක නිශ්චය කිරීමට අදාළ බෞද්ධ නිර්ණායක රැසක් සූත්‍ර ධර්මවල දී බුදුරජාණන් වහන්සේ විසින් පැහැදිලි කොට ඇත. ඒ අතරට ඇතුළත් **නො වන්නේ**,
(1) සමාජ සම්මතය ය. (2) චේතනාව ය.
(3) උභයාර්ථ සාධනය ය. (4) විපාකය ය.
(5) අත්තූපනායික ධර්මපරියාය ය.

44. පින් කරන්නා මෙලොව මෙන් ම පරලොව ද සතුටු වෙයි. ඔහු සුගතියට යන්නේ මවිසින් පින් කරන ලද්දේ යැ'යි බෙහෙවින් ම සතුටු වෙමිනි. මේ බුද්ධ වචනය ඇතුළත් වන්නේ,
(1) ඛුද්දක පාඨයේ ය. (2) ධම්මපදයේ ය. (3) උදානපාලියේ ය.
(4) ථෙරගාථාවේ ය. (5) විමානවත්ථුවේ ය.

45. සිගාලෝවාද සූත්‍රය අනුව අප විසින් සමාජයට සතර කරුණෙකින් සංග්‍රහ කළ යුතු ය. එම කරුණු සතරට ඇතුළත් අත්ථචරියා යන්නෙන් අදහස් වන්නේ,
(1) ප්‍රයෝජනවත් හැසිරීමයි. (2) ආත්මාර්ථයට හේතු වන ක්‍රියාවයි.
(3) තේරුමක් ඇති හැසිරීමයි. (4) අත්වැඩ පරවැඩ සමව සිතීමයි.
(5) අන් අයගේ දියුණුවට උපකාරී වීමයි.

46. පැරණි ලක්දිව විසූ පාලකයෝ නිගම ජනපද වැසියන්ගේ රක්ෂාවරණ ගුප්තිය උදෙසා නිබඳව ම ක්‍රියා කළ හ. ඔවුන් විසින් අනුගමනය කරන ලද්දේ,
(1) සංග්‍රහ වස්තුවකි. (2) රාජධර්මයකි. (3) සක්විති වතකි.
(4) අපරිහානීය ධර්මයකි. (5) බ්‍රහ්ම විහරණයකි.

47. ස්වකීය රාජ්‍යය ආර්ථික වශයෙන් සංවර්ධනය කිරීම පාලකයකුගේ මූලික යුතුකමක් බව බුදුසමය උගන්වයි. එහි දී කෘෂිකර්මාන්තය, වාණිජ්‍යය සහ රාජ්‍ය සේවය ගැන රජතුමා අවධානය යොමු කළ යුතු ය. ඒ බව සඳහන් වන්නේ,
(1) චක්කවත්ති සීහනාද සූත්‍රයේ ය. (2) අණන සූත්‍රයේ ය. (3) රජ්ජ සූත්‍රයේ ය.
(4) ව්‍යග්ඝපජ්ජ සූත්‍රයේ ය. (5) කූටදන්ත සූත්‍රයේ ය.

48. ධාර්මික ධනෝපායනය ගැන කියැවෙන ධර්ම පාඨ පහක් ලියා දක්වන ලෙස ගුරුවරයෙක් සිසුන්ට නියම කළේ ය. ඒ අනුව එක් ශිෂ්‍යයකු විසින් ලියා දක්වන ලද ධර්ම පාඨ පහෙන් එකක් **වැරදි ය**. එය නම්,
(1) "භොගෙ සංහරමානස්ස භමරස්සෙව ඉරීයතෙ" යන්න ය.
(2) "විරියෙන දුක්ඛං අච්චෙති" යන්න ය.
(3) "සම්මා ආජීවෙන ජීවිකං කප්පෙති" යන්න ය.
(4) "ධම්මෙන භොගෙ පරියෙසෙති" යන්න ය.
(5) "තුලාකූට කංසකූට මානකූටා පටිවිරතො" යන්න ය.



49. ගිහි බෞද්ධයකු ධනය පරිහරණය කිරීමේ දී යුතුකම් පහක් ඉටු කළ යුතු බව පත්තකම්ම සූත්‍රය උගන්වයි. ඉන් **එකක්** වන්නේ,
(1) ආගන්තුකයින්ට සංග්‍රහ කිරීම ය. (2) හිතමිතුරන්ට සැලකීම ය.
(3) මව්පියන්ට උපස්ථාන කිරීම ය. (4) මහණ බමුණන් පෝෂණය කිරීම ය.
(5) සේවක සේවිකාවන්ට වැටුප් ගෙවීම ය.

50. බුදුරදුන් දවස විසූ ලිච්ඡවී රජදරුවන් සප්ත අපරිහාණිය ධර්ම අනුගමනය කළ බව ප්‍රකට කරුණකි. එම ධර්ම අනුගමනය කරන රාජ්‍යය නොපිරිහේ, දිනෙන් දින දියුණු වේ. මෙම තොරතුරු හමුවන්නේ,
(1) මහා සුදස්සන සූත්‍රයේ ය. (2) බාලපණ්ඩිත සූත්‍රයේ ය.
(3) අධම්මික සූත්‍රයේ ය. (4) මහා පරිනිබ්බාණ සූත්‍රයේ ය.
(5) පරාභව සූත්‍රයේ ය.

* * *

3780

AL/2015/41/S-II





අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

බුද්ධ ධර්මය II
பௌத்தம் II
Buddhism II

41 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

**උපදෙස්:**

※ I කොටසින් ප්‍රශ්න **දෙකක්** ද II කොටසින් ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) "ලොකවිදූ" යන්න පැහැදිලි කරන්න.
   (ii) "බුදුරජාණන් වහන්සේ සැබැවින් ම මිනිසෙකි." විමසන්න.
   (iii) බුදුරදුන්ගේ යථාවාදී තථාකාරී බවට නිදසුන් **දෙකක්** දක්වන්න.
   (iv) බුදුරජාණන් වහන්සේගේ දේශනා විලාස **දෙකක්** හඳුන්වන්න.
   (v) "බුදුරජාණන් වහන්සේ හේතුඵලවාදී ය." විමසන්න. (ලකුණු 20යි.)

2. (i) "ආහුණෙය්‍ය" යන්නට අරුත් සපයන්න.
   (ii) "බුදුදහම දේව අනාවරණයක් **නො වේ.**" පැහැදිලි කරන්න.
   (iii) "සබ්බෙ ධම්මා අනත්තා" විස්තර කරන්න.
   (iv) කාලාම සූත්‍රාගත චින්තන නිදහස අගය කරන්න.
   (v) "බුදුදහම මධ්‍යම දේශනාවකි." විමසන්න. (ලකුණු 20යි.)



3. (i) "සංගායනා" යන්න නිර්වචනය කරන්න.
   (ii) බුද්ධානුබුද්ධක ශික්ෂා විනිශ්චය පැහැදිලි කරන්න.
   (iii) දෙවැනි සංගීතියට තුඩුදුන් හේතු දක්වන්න.
   (iv) මහාසංඝික නිකාය හඳුන්වා දෙන්න.
   (v) ථෙරවාදයේ චිරස්ථිතියට තෙවැනි සංගීතිය කළ මෙහෙවර විමසන්න. (ලකුණු 20යි.)

## II කොටස

4. (i) "මක්ඛලිගෝසාලයන්ගේ නියතිවාදය" පිළිබඳ විවරණයක් සපයන්න.
   (ii) "බුදුදහම නියතිවාදී **නො වේ.**" විමසන්න. (ලකුණු 20යි.)

5. (i) "දුක්ඛ සමුදයාර්ය සත්‍යය" විස්තර කරන්න.
   (ii) "දුක්ඛ නිරෝධයේ ස්වභාවය" සාකච්ඡා කරන්න. (ලකුණු 20යි.)

6. (i) "සමථ භාවනාව" හඳුන්වා දෙන්න.
   (ii) චිත්ත සමාධිය තුළින් ලද හැකි අභිඥා පැහැදිලි කරන්න. (ලකුණු 20යි.)

7. (i) "කම්මනා වත්තතී ලොකො" යන්න විවරණය කරන්න.
   (ii) "කර්මය" හා "පුනර්භවය" අතර ඇති සම්බන්ධය පෙන්වා දෙන්න. (ලකුණු 20යි.)

8. (i) ආර්ථික සුරක්ෂිතතාව පිළිබඳ ව බෞද්ධ ඉගැන්වීම් පැහැදිලි කරන්න.
   (ii) අපිස් පැවැත්ම හා ධනෝපායනය පිළිබඳ ව විමසුමක් කරන්න. (ලකුණු 20යි.)

* * *